# 2561 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2016 (2017)

## (03) අභිධර්මය

**S 3**

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

2\. (i) (අ) අභිධම්ම පරියාය හෙවත් අභිධර්ම දේශනා ක්‍රමයේ දක්නට ලැබෙන ලක්‍ෂණ දෙකක් දක්වන්න. (ලකුණු 02 යි)

(ආ) සුත්ත පරියාය හෙවත් සූත්‍ර දේශනා ක්‍රමයේ දක්නට ලැබෙන ලක්‍ෂණ තුනක් පෙන්වා දෙන්න. (ලකුණු 03 යි)

(ii) ධම්මසංගණිප්පකරණය සහ විභංගප්පකරණය පිළිබඳව වෙන් වෙන්ව හැඳින්වීම් කරන්න. (ලකුණු 06 යි)

(iii) සර්වාස්තිවාදී අභිධර්ම සම්ප්‍රදාය කවරේදැයි හඳුන්වා දෙන්න. (ලකුණු 07 යි)

3\. (i) (අ) ද්වේෂ මූලික අකුසල් සිත් දෙක ලියන්න. (ලකුණු 02 යි)

(ආ) එම සිත් දෙකේ ඇති ද්වේෂ මූලික බව ඇතිවීමට හේතුවන ලක්‍ෂණ තුනක් පෙන්වා දෙන්න. (ලකුණු 03 යි)

(ii) අකුසල් සිත් ඇතිවීමට බලපාන හේතු දක්වමින් එම හේතු පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iii) "ද්වේෂ මූලිකව කටයුතු කරන පුද්ගලයාගේ දෙලොව ම පිරිහේ" යන්න උදාහරණ දක්වමින් සාකච්ඡා කරන්න. (ලකුණු 07 යි)

4\. (i) (අ) අප්පමඤ්ඤා චෛතසික නම්කර, ඒවා අප්පමඤ්ඤා නමින් හැඳින්වීමට හේතුව පෙන්වා දෙන්න. (ලකුණු 02 යි)

(ආ) සතර බ්‍රහ්ම විහරණ විසිපස් වැදෑරුම් සෝභන චෛතසික අතර දැක්වෙන්නේ කවර නම්වලින් දැයි දක්වන්න. (ලකුණු 03 යි)

(ii) "හිරි සහ ඔත්තප්ප" යන චෛතසික දෙක පිළිබඳව උදාහරණ සහිතව වෙන් වෙන්ව හැඳින්වීම් කරන්න. (ලකුණු 06 යි)

(iii) පුද්ගලයාගේ සහ සමාජයේ යහපැවැත්මට සතර බ්‍රහ්ම විහරණ සංකල්පය අනුකූලවන ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

5\. (i) (අ) රූප සමුට්ඨාන හේතු හෙවත් රූප උපදවන හේතු පිළිවෙළින් නම් කරන්න. (ලකුණු 02 යි)

(ආ) එම හේතු අතරින් සතරවැනි හේතුවට අයත් මූලික ප්‍රභේද දක්වන්න. (ලකුණු 03 යි)

(ii) මහා භූතරූප නම් කරමින්, දෙවැන්න සහ තෙවැන්න පිළිබඳව හැඳින්වීම් කරන්න. (ලකුණු 06 යි)

(iii) "සංඛත ධර්ම" යන්න හඳුන්වා සංඛත ධර්මයන්ට අදාළවන මූලික ලක්‍ෂණ පෙන්වා දෙන්න. (ලකුණු 07 යි)

6\. (i) (අ) චිත්තවීථිවල මූලික ප්‍රභේද දෙක නම් කරන්න. (ලකුණු 02 යි)

(ආ) භවාංග සිත පිළිබඳ හැඳින්වීමක් කරන්න. (ලකුණු 03 යි)

(ii) චිත්තවීථි සටහනක යෙදෙන, සම්පටිච්ඡන, සන්තීරණ, වොට්ඨපන යන ක්‍ෂණයන්ගෙන් කෙරෙන කාර්ය වෙන වෙන ම ඉදිරිපත් කරන්න. (ලකුණු 06 යි)

(iii) චක්ඛුද්වාරික අතිමහන්තාරම්මණ චිත්තවීථි සටහන අඳින්න. එහි ඇති වැදගත් ලක්‍ෂණ දෙකක් පෙන්වා දෙන්න. (ලකුණු 07 යි)

[හතරවැනි පිටුව බලන්න.

7. (i) (අ) අකුසල කර්මවල නියත වශයෙන් යෙදෙන අකුසල චෛතසික නම් කරන්න. (ලකුණු 02 යි)

(ආ) දස අකුසල කර්මපථ අතරින් මනසින් කෙරෙන කර්මපථ පෙන්වා දෙන්න. (ලකුණු 03 යි)

(ii) මූලික කරුණු ඇතුළත් වන සේ රූපාවචර සිත් පිළිබඳව හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි)

(iii) මරණයේ සතරවැදෑරුම් ප්‍රභේදය නම් කරමින් මරණානුස්සති භාවනාව පිළිබඳව හැඳින්වීමක් කරන්න. (ලකුණු 07 යි)

8. (i) (අ) "නීවරණ" යන්න අර්ථ දක්වන්න. (ලකුණු 02 යි)

(ආ) නීවරණ ධර්ම පිළිවෙළින් නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) එම නීවරණ ධර්ම අතරින් දෙවැන්න සහ තෙවැන්න පිළිබඳව උදාහරණ දක්වමින් වෙන් වෙන්ව විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) සමථ භාවනාව යන්න හඳුන්වා, එම භාවනාවෙන් ලැබෙන ප්‍රතිඵල ලියා දක්වන්න. (ලකුණු 07 යි)

9. (i) (අ) දස සංයෝජන ධර්ම මූලික කොටස් දෙකකට බෙදේ. එම කොටස් දෙක ඉදිරිපත් කරන්න. (ලකුණු 02 යි)

(ආ) සෝවාන් මාර්ග චිත්තයෙන් නැති කෙරෙන සංයෝජන ධර්ම නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) මානය හා උද්ධච්චය යන සංයෝජන ධර්ම දෙක පිළිබඳව වෙන් වෙන්ව උදාහරණ දක්වමින් හඳුන්වන්න. (ලකුණු 06 යි)

(iii) සුඤ්ඤත, අනිමිත්ත, අප්පණිහිත යන ලක්ෂණ තුන ඇසුරින් නිවන පිළිබඳව හැඳින්වීමක් කරන්න. (ලකුණු 07 යි)

* * *